50783

OL/2022(2023)/81-S-I, II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**81 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022 (2023)

| | | |
|---|---|---|
| **කෘෂි හා ආහාර තාක්ෂණය** | I, II | **පැය තුනයි** |
| விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் | I, II | மூன்று மணித்தியாலம் |
| Agriculture and Food Technology | I, II | *Three hours* |

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## කෘෂි හා ආහාර තාක්ෂණය I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** පැරණි රජ දවස ඉදි කරන ලද වැව්වල සොරොව්වෙන් පිටකරන ජලයේ පීඩනය පාලනය කිරීම සඳහා සකස් කර ඇති ව්‍යුහය,
(1) රළපනාවයි. (2) බිසෝ කොටුවයි. (3) පිටවානයි. (4) වැව් බැම්මයි.

**2.** විෂ්කම්භය මි.මී. 0.02 - 0.002 අතර වූ පාංශු ඛනිජ සංඝටකය හඳුන්වන්නේ,
(1) මැටි ලෙස ය. (2) රොන්මඩ ලෙස ය. (3) සියුම් වැලි ලෙස ය. (4) රළු වැලි ලෙස ය.

**3.**

O
A
B
C
R

මෙහි දක්වා ඇත්තේ ද්‍රව්‍යය පාංශු පැතිකඩකි. එහි පාංශු ගැඹුර ලෙස සලකනු ලබන ස්ථර වන්නේ,
(1) A හා B පමණි.
(2) B හා C පමණි.
(3) A, B හා C පමණි.
(4) B, C හා R පමණි.

**4.** ගොවි මහතෙකු, අඹ අස්වැන්න නෙළීමේ දී අනුගමනය කළ ක්‍රියාකාරකම් කිහිපයක් පහත දැක්වේ.
A - තුඩයක් සවිකරන ලද කොක්කක් භාවිතයෙන් ඵල නෙළීම
B - නෙළන ලද ඵල පොළව මත ගොඩ ගැසීම
C - ඵල උණු ජල ප්‍රතිකාරයට ලක් කිරීම

ඉහත ක්‍රියාකාරකම් අතරින් නිවැරදි වන්නේ,
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B හා C යන සියල්ල ය.

**5.** පාංශු ජලය පිළිබඳ සත්‍ය ප්‍රකාශය කුමක් ද?
(1) ක්ෂේත්‍ර ධාරිතා අවස්ථාවේ දී පසේ ඇත්තේ කේශාකර්ෂණ ජලය පමණි.
(2) ස්ථිර මැලවීමේ අංකයට පත් වී ඇති පසක ඇත්තේ ගුරුත්වාකර්ෂණ ජලය පමණි.
(3) ගුරුත්වාකර්ෂණය නිසා පසෙන් ඉවත්වන ජලය ජලාකර්ෂණ ජලය යි.
(4) කේශාකර්ෂණ ජලය ශාකවලට පහසුවෙන් අවශෝෂණය කර ගත හැකි ය.

**6.** එක්තරා භූමියක බෝග වගා කර ඇති රටාව රූප සටහනෙහි දැක්වේ.



O - පොල්
x - අන්නාසි

මෙය,
(1) මිශ්‍ර බෝග වගාවයි.
(2) අතුරු බෝග වගාවයි.
(3) තවින් තව වගාවයි.
(4) බහුස්ථර බෝග වගාවයි.

[දෙවැනි පිටුව බලන්න.

7. පහත දැක්වෙන ක්‍රියාකාරකම් අතරින් ශස්‍ය විද්‍යාත්මක වල් පැළෑටි පාලන ක්‍රමයකට නිදසුනක් වන්නේ,
   (1) වී වගාවේ දී රොටරි විඩරය භාවිත කිරීම ය.
   (2) නිර්දේශිත පරතරයක් සහිතව බෝග සංස්ථාපනය කිරීම ය.
   (3) පොල් ශාක වටා උදලු ගෑම ය.
   (4) එළවළු පාත්තිවල ඇති වල් පැළෑටි අතින් උදුරා දැමීම ය.

8. ශ්‍රී ලංකාවේ වියළි කලාපයේ බහුලව දැකිය හැකි ගව පාලන ක්‍රමය වනුයේ,
   (1) නිදැලි ක්‍රමයයි.
   (2) අඩ සියුම් ක්‍රමයයි.
   (3) සියුම් ක්‍රමයයි.
   (4) නිදහස් ක්‍රමයයි.

9. ගවයින්ට වැළඳෙන පරිවෘත්තීය රෝගයකි,
   (1) බුරුළු ප්‍රදාහය.
   (2) කුර හා මුඛ රෝගය.
   (3) කිරි උණ.
   (4) ගව රක්තාශ්‍රය.

10.




රූපයේ දක්වා ඇති උපකරණය මගින් මනිනු ලබන්නේ,
   (1) ආලෝකය පවතින කාල සීමාවයි.
   (2) ආලෝක තීව්‍රතාවයි.
   (3) ආලෝකයේ ගුණාත්මයයි.
   (4) ආලෝක වර්ණාවලියයි.

11. ගොඩ ක්‍රමයට කොම්පෝස්ට් සැකසීමේ දී උල් කරන ලද ලියක් කොම්පෝස්ට් ගොඩට ඇතුළු කර පරීක්ෂා කරනු ලබන්නේ,
   (1) ක්ෂුද්‍ර ජීවීන් ප්‍රමාණයයි.
   (2) ජීර්ණය වී ඇති ප්‍රමාණයයි.
   (3) තෙතමනය හා උෂ්ණත්වයයි.
   (4) වාතනයයි.

12. පහත දැක්වෙන වගුවේ රසායනික පොහොර පිළිබඳ තොරතුරු නිවැරදිව සඳහන් කර ඇත්තේ කුමන වරණයේ ද?

| | පොහොර වර්ගය | වර්ණය | අඩංගු පෝෂක ප්‍රතිශතය | ජලයේ ද්‍රාව්‍යතාව |
|---|---|---|---|---|
| (1) | යූරියා | සුදු පැහැති ය. | N - 23% | දිය නොවේ. |
| (2) | මියුරේට් ඔෆ් පොටෑෂ් | ගඩොල් රතු පැහැති ය. | $K_2O$ - 60% | හොඳින් දිය වේ. |
| (3) | ත්‍රිත්ව සුපර් පොස්පේට් | අලු පැහැති ය. | $P_2O_5$ - 35% | හොඳින් දිය වේ. |
| (4) | රොක් පොස්පේට් | සුදු පැහැති ය. | $P_2O_5$ - 50% | දිය නොවේ. |

13. ස්වභාවික වර්ධක ප්‍රචාරණ ව්‍යුහ වන රෛසෝම සහ කෝම සඳහා උදාහරණ වනුයේ පිළිවෙලින්,
   (1) කහ සහ අර්තාපල් ය.
   (2) කහ සහ හබරල ය.
   (3) ඉන්නල සහ රතුළූණු ය.
   (4) අර්තාපල් සහ ඉඟුරු ය.

14. ශාකවලට අවශ්‍ය මහා පෝෂක වන කාබන් හා නයිට්‍රජන් ලබා ගනුයේ පිළිවෙලින්,
   (1) පසෙන් හා ජලයෙනි.
   (2) ජලයෙන් හා පසෙනි.
   (3) ජලයෙන් හා වායුගෝලයෙනි.
   (4) වායුගෝලයෙන් හා පසෙනි.

15. කුකුළු පැටවුන්ගේ ගුද මාර්ගය අවට පිහාටු තෙත් වී එකට ඇලී තිබුණු අතර සුදු පැහැති පාචනය දක්නට ලැබුණි. මෙම රෝගය වනුයේ,
   (1) කොක්සිඩියෝසිස් ය.
   (2) පුල්ලෝරම් ය.
   (3) ගම්බෝරෝ ය.
   (4) රනිකට් ය.

16. බෝග වගාවට ජල සම්පාදනය කිරීම පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
   A - අවශ්‍ය අවස්ථාවේ දී අවශ්‍ය ප්‍රමාණයට ජලය සැපයීම, ජල සම්පාදනය නම් වේ.
   B - වගා ක්ෂේත්‍රයේ පස, ජලයෙන් සංතෘප්ත වන තෙක් ජල සම්පාදනය කළ යුතු ය.
   C - බිංදු ජල සම්පාදනයේ දී, රසායනික පොහොර ද වාරි ජලය සමඟ යෙදිය හැකි ය.

   මෙම ප්‍රකාශ අතරින් සත්‍ය වන්නේ,
   (1) A හා B පමණි.
   (2) A හා C පමණි.
   (3) B හා C පමණි.
   (4) A, B හා C යන සියල්ලම ය.

[කුන්වැනි පිටුව බලන්න.

17. මූලික බිම් සැකසීම, ප්‍රාථමික හා ද්විතීයික බිම් සැකසීම ලෙස පියවර දෙකකි. ද්විතීයික බිම් සැකසීමට අයත් ක්‍රියාකාරකම/ක්‍රියාකාරකම් වන්නේ,
(1) පස් පිඩැල්ල කැපීම හා පස පෙරළීමයි. (2) පැළ මුලට පස් එකතු කිරීමයි.
(3) පස් කැට පොඩි කිරීම හා පාත්ති සැකසීමයි. (4) පැළ අවට පස බුරුල් කිරීමයි.

18. කිරි නිෂ්පාදනය සඳහා ශ්‍රී ලංකාවේ ඇති කරනු ලබන ඉන්දිය සම්භවයක් සහිත මී ගව වරිග වනුයේ,
(1) ජර්සි හා අයර්ෂයර් ය. (2) සින්දි හා සහිවාල් ය.
(3) නිලිරවි හා මුරා ය. (4) ෆ්‍රීෂියන් හා සූර්ති ය.

19. සත්ත්ව ආහාර සලාක පිළියෙල කිරීමේ දී, සිප්පි කටු කුඩු එකතු කිරීමෙන් ලබාදීමට බලාපොරොත්තු වන පෝෂකය වනුයේ,
(1) කාබෝහයිඩ්‍රේට ය. (2) ප්‍රෝටීන ය. (3) ලිපිඩ ය. (4) ඛනිජ ය.

20. අතින් ක්‍රියාකරවන අතුරුයත්ගෑමේ උපකරණයකි,
(1) ජපන් රොටරි වීඩරය. (2) ජපන් පරිවර්තා නගුල.
(3) රොටවේටරය. (4) රිජරය.

21. සිටුවීමට පෙර දඬු කැබැල්ලක ඇති පත්‍ර ඉවත් කරනු ලබන්නේ,
(1) රෝගී පත්‍ර ඉවත් කිරීමට ය. (2) සුළඟින් වන හ [illegible] අවම කිරීමට ය.
(3) උත්ස්වේදනය අවම කිරීමට ය. (4) දිලීර රෝග ඇතිවීම වැළැක්වීමට ය.

22. වී ශාකයේ විද්‍යාත්මක නාමය නිවැරදිව ලියනුයේ,
(1) Oryza Sativa ලෙස ය. (2) *Oryza sativa* ලෙස ය.
(3) *Oryza Sativa* ලෙස ය. (4) <u>Oryza Sativa</u> ලෙස ය.

23. A, B, C හා D යන පස් සාම්පල හතරක පාංශු සංඝටකවල සාපේක්ෂ ප්‍රතිශත පහත වගුවේ දැක්වේ.

| | වාතය% | ජලය% | ඛනිජ% | කාබනික ද්‍රව්‍ය% |
|---|---|---|---|---|
| A | 25 | 25 | 45 | 05 |
| B | 35 | 10 | 30 | 25 |
| C | 05 | 45 | 25 | 25 |
| D | 25 | 05 | 25 | 45 |

මෙයින් බෝග වගාව සඳහා වඩාත් සුදුසු පස් සාම්පලය වන්නේ,
(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

24. වී ශාකය පීදීමේ සිට අස්වනු මේරීම දක්වා කාලය මේරීමේ අවධිය ලෙස හඳුන්වයි. සෑම වී ප්‍රභේදයක් සඳහාම මෙම කාලය දින,
(1) 15 කි. (2) 30 කි. (3) 45 කි. (4) 60 කි.

25. ශාක පටක විකා කෑමෙන් හානි පමුණුවන කෘමි පළිබෝධයෙකි,
(1) ගොයම් මකුණා. (2) සුදු මැස්සා. (3) එපිලැක්නා. (4) පිටි මකුණා.

26. බද්ධ කිරීම සඳහා යොදා ගන්නා ග්‍රාහක ශාකයක තිබිය යුතු ප්‍රධාන ලක්ෂණයක් වන්නේ,
(1) වැඩි අස්වැන්නක් ලබා දීමයි. (2) සෑම වාරයක දී ම ඵල දැරීමයි.
(3) ශක්තිමත් මූල පද්ධතියක් තිබීමයි. (4) උසස් ගුණාත්මයෙන් යුත් ඵල දැරීමයි.

27. එළවළු බීජ තවාන් කිරීම සඳහා සකසන ලද තවාන් මිශ්‍රණයක තෙතමනය පරීක්ෂා කිරීම පිණිස ශිෂ්‍යයෙක් ඉන් ස්වල්පයක් අතට ගෙන මිට මොලවා තද කර නැවත දිග හැරියේ ය. තෙතමනය ප්‍රමාණවත් නම්,
(1) එම මිශ්‍රණය එකවරම ලිහිල් වේ.
(2) එම මිශ්‍රණය ක්‍රමයෙන් ලිහිල් වේ.
(3) එම මිශ්‍රණය ලිහිල් නොවී ගුලියක් ලෙස පවතියි.
(4) එම මිශ්‍රණයෙහි ඇති ජලය ඇඟිලි අතරින් ඉවතට බේරී යයි.

28. දියර කිරිවලට තිරිඟු පිටි මිශ්‍ර කර ඇතිදැයි හඳුනා ගැනීමට කළ යුත්තේ,
(1) අයඩීන් ද්‍රාවණය එකතු කිරීම ය. (2) ග්ලිසරීන් එකතු කිරීම ය.
(3) වීදුරු මතුපිටකට කිරි බිංදුවක් දැමීම ය. (4) පිරිසිදු ජල වීදුරුවකට කිරි බිංදුවක් දැමීම ය.

[හතරවැනි පිටුව බලන්න.

50783

**29.** ඇතැම් ලොකු ළැණු බල්බවල අභ්‍යන්තර කොටස් කුණු වී දුගඳ හමන අවස්ථා දක්නට ලැබේ. මෙම තත්ත්වය ඇති වීමට හේතුවන රෝග කාරකය කුමක් ද?
(1) බැක්ටීරියා (2) දිලීර (3) වෛරස් (4) වටපණු

**30.** පස පිළිබඳ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.
A - නිතර පස පෙරළීම නිසා පසේ වයනය වෙනස් වෙයි.
B - ඛාදනයට පත් වූ පසක් බෝග වගාවට සුදුසු තත්ත්වයට පත් කිරීම පාංශු පුනරුත්ථාපනය නම් වෙයි.
C - පාංශු වාතයේ අඩංගු $CO_2$ ප්‍රතිශතය වායුගෝලයේ ඇති $CO_2$ ප්‍රතිශතයට වඩා වැඩි ය.
මෙම ප්‍රකාශ අතරින් නිවැරදි වන්නේ,
(1) A පමණි. (2) A හා B පමණි. (3) A හා C පමණි. (4) B හා C පමණි.

**31.** ශ්‍රී ලංකාවේ අතරමැදි කලාපයට ලැබෙන සාමාන්‍ය වාර්ෂික වර්ෂාපතනය මිලි මීටර,
(1) 1500 - 1750 කි. (2) 1750 - 2500 කි. (3) 2500 - 3000 කි. (4) 3000 - 3500 කි.

**32.** ශ්‍රී ලංකාවේ කෘෂි දේශගුණික කලාප හා කෘෂි පාරිසරික කලාප වර්ගීකරණය සම්බන්ධ ප්‍රකාශ කිපයක් පහත දැක්වේ.
A - තෙත් කලාපය, අතරමැදි කලාපය හා වියළි කලාපය වශයෙන් ප්‍රධාන දේශගුණික කලාප තුනකි.
B - කෘෂි පාරිසරික කලාප 46කි.
C - වියළි කලාපය, පහතරට වියළි කලාපය හා මැදරට වියළි කලාපය වශයෙන් කලාප දෙකකට බෙදා ඇත.
මෙම ප්‍රකාශ අතරින් නිවැරදි වන්නේ,
(1) A පමණි. (2) B පමණි. (3) A හා B පමණි. (4) B හා C පමණි.

**33.** ආහාර අධි ශීතනය කිරීම නිසා,
(1) එන්සයිම ක්‍රියාකාරිත්වය අඩුවීම පමණක් සිදු වේ.
(2) ක්ෂුද්‍රජීවී ක්‍රියාකාරිත්වය අඩුවීම පමණක් සිදු වේ.
(3) ක්ෂුද්‍රජීවී ක්‍රියාකාරිත්වය සම්පූර්ණයෙන්ම නවතී.
(4) ක්ෂුද්‍රජීවීන් විනාශ වීම පමණක් සිදු වේ.

**34.** පරිරක්ෂණයේ දී මස්වල ස්වභාවික රෝස පැහැය පවත්වා ගැනීමට යොදා ගන්නා රසායනික ද්‍රව්‍යයක් වන්නේ,
(1) සෝඩියම් මෙටාබයිසල්ෆයිට් ය. (2) සෝඩියම් බෙන්සොඒට් ය.
(3) බෙන්සොයික් අම්ලය ය. (4) සෝඩියම් නයිට්‍රේට් ය.

**35.** අවුරුදු දෙකක් පමණ වයසැති දරුවකුගේ උදරය ඉදිරියට නෙරාවිත් තිබූ අතර සම ඉරිතලා ගොස් අත්, පා, මුහුණ හා උදරය ඉදිමී තිබුණි. මෙම රෝගී තත්ත්වය විය හැක්කේ,
(1) මැරස්මස් ය. (2) ක්වෝෂියෝකෝර් ය.
(3) ඔස්ටියොපොරෝසිස් ය. (4) රක්තහීනතාවය ය.

**36.** අධික සුළං සහිත වියළි කලාපීය ප්‍රදේශයක වැලි පසක වගාකර ඇති දොඩම් වගාවක් සඳහා යෝග්‍ය ජල සම්පාදන ක්‍රමය වන්නේ,
(1) පිටාර ජල සම්පාදනයයි. (2) බේසම් ජල සම්පාදනයයි.
(3) ඉසින ජල සම්පාදනයයි. (4) බිංදු ජල සම්පාදනයයි.

**37.** පහත ආහාර අතුරින් ආහාර විෂ වීම ඇති කරනු ලබන අධි අවදානම් ආහාර වර්ග වන්නේ,
(1) වට්ටක්කා, පතෝල හා රාබු ය. (2) පැපොල්, අඹ හා බිත්තර ය.
(3) මුං ඇට, කඩල හා මාළු ය. (4) කුකුළු මස්, කිරි හා බිත්තර ය.

**38.** ආහාර ඇසුරුමක් තුළ ඇති වාතය ඉවත් කර, නැවත වාතය ඇතුල් නොවන සේ මුද්‍රා තැබූ විට එය,
(1) අපූති තත්ත්ව යටතේ සැකසූ ඇසුරුමකි.
(2) අභ්‍යන්තර පරිසරය නවීකෘත කරන ලද ඇසුරුමකි.
(3) රික්ත ඇසුරුමකි.
(4) ටෙට්‍රා පැක් ඇසුරුමකි.

**39.** ආම්ලික පසක් බෝග වගාවට සුදුසු තත්ත්වයට පත් කිරීම සඳහා එම පසට යෙදිය හැකි ද්‍රව්‍යයක් වන්නේ,
(1) ගෙන්දගම් ය. (2) අළු හුණු ය. (3) ජිප්සම් ය. (4) කාබනික ද්‍රව්‍ය ය.

**40.** 2022 වර්ෂයේ අග භාගයේ සිට එක්තරා පළිබෝධයෙකු, පොල්ශාක පත්‍රිකා යට පැත්තේ යුෂ උරා බීම නිසා පත්‍ර කහ පැහැ වූ අතර එමගින් පොල් අස්වැන්නට දැඩි බලපෑමක් ඇති විය. එම පළිබෝධය නම්,
(1) පොල් පත්‍ර දළඹුවා ය. (2) කොරපොතු කෘමියා ය.
(3) රතු පොල් කුරුමිණියා ය. (4) සුදු මැස්සා ය.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்

රහසයි

අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2022 (2023)
க.பொ.த. (சா.தர)ப் பரீட்சை - 2022 (2023)

විෂය අංකය / பாட இலக்கம்: 81

විෂයය / பாடம்: කෘෂි හා ආහාර තාක්ෂණය

I පත්‍රය - පිළිතුරු
I பத்திரம் - விடைகள்

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 2 | 11. | 3 | 21. | 3 | 31. | 2 |
| 02. | 2 | 12. | 2 | 22. | 2 | 32. | 3 |
| 03. | 3 | 13. | 2 | 23. | 1 | 33. | 3 |
| 04. | 2 | 14. | 4 | 24. | 2 | 34. | 4 |
| 05. | 4 | 15. | 2 | 25. | 3 | 35. | 2 |
| 06. | 2 | 16. | 2 | 26. | 3 | 36. | 4 |
| 07. | 2 | 17. | 3 | 27. | 2 | 37. | 4 |
| 08. | 1 | 18. | 3 | 28. | 1 | 38. | 3 |
| 09. | 3 | 19. | 4 | 29. | 1 | 39. | 2 |
| 10. | 2 | 20. | 1 | 30. | 4 | 40. | 4 |

විශේෂ උපදෙස් / விசேட அறிவுறுத்தல் } එක් පිළිතුරකට ලකුණු / ஒரு சரியான விடைக்கு **01** බැගින் / புள்ளி வீதம்

මුළු ලකුණු / மொத்தப் புள்ளிகள் 01 × 40 = 40

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்

රහසයි

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2022 (2023)
# க.பொ.த. (சா.தர)ப் பரீட்சை - 2022 (2023)

විෂය අංකය / பாட இலக்கம்: **81**

විෂයය / பாடம்: **කෘෂි හා ආහාර තාක්ෂණය**

## I පත්‍රය - පිළිතුරු
## I பத்திரம் - விடைகள்

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 2 | 11. | 3 | 21. | 3 | 31. | 2 |
| 02. | 2 | 12. | 2 | 22. | 2 | 32. | 3 |
| 03. | 3 | 13. | 2 | 23. | 1 | 33. | 3 |
| 04. | 2 | 14. | 4 | 24. | 2 | 34. | 4 |
| 05. | 4 | 15. | 2 | 25. | 3 | 35. | 2 |
| 06. | 2 | 16. | 2 | 26. | 3 | 36. | 4 |
| 07. | 2 | 17. | 3 | 27. | 2 | 37. | 4 |
| 08. | 1 | 18. | 3 | 28. | 1 | 38. | 3 |
| 09. | 3 | 19. | 4 | 29. | 1 | 39. | 2 |
| 10. | 2 | 20. | 1 | 30. | 4 | 40. | 4 |

විශේෂ උපදෙස් / விசேட அறிவுறுத்தல் } එක් පිළිතුරකට ලකුණු / ஒரு சரியான விடைக்கு **01** බැගින් / புள்ளி வீதம்

මුළු ලකුණු / மொத்தப் புள்ளிகள் **01 × 40 = 40**

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2022 (2023)

## 81 - කෘෂි හා ආහාර තාක්ෂණය

1. වියළි කලාපයේ ගොවි සංවිධානයක් විසින් හෙක්ටාර දෙකක පමණ භූමියක ගොවිපොළක් ආරම්භ කරන ලදී. පළමු අදියරේ දී වගා ළිඳෙන් ජලය පොම්ප කරගෙන අලෙවිය පිණිස තවාන් පැළ නිපදවූ අතර එළවළු හා පලතුරු බෝග ද වගා කරන ලදී. පසුව මෙම ගොවිපොළ ක්‍රමයෙන් සමෝධානිත ගොවිපොළක් ලෙස සංවර්ධනය කිරීමට පියවර ගන්නා ලදී.

(i) (a) මෙම ගොවිපොළෙහි තවාන් දැමීමට සුදුසු එළවළු බෝග **දෙකක්** නම් කරන්න.

(b) මෙම ගොවිපොළෙහි තවාන් **නොදමා** සිටුවිය හැකි එළවළු බෝග **දෙකක්** නම් කරන්න.

(ii) තවාන් පාත්තිවල පස ජීවාණුහරණය සඳහා සුදුසු **රසායනික නොවන** ජීවාණුහරණ ක්‍රම **දෙකක්** ලියන්න.

(iii) (a) මෙම ගොවිපොළෙහි ඇති පැපොල් වගාව සඳහා සුදුසු කාර්යක්ෂම ජල සම්පාදන ක්‍රමයක් යෝජනා කරන්න.

(b) එම ක්‍රමයෙහි වාසියක් හා අවාසියක් ලියන්න.

(iv) (a) වියළි කලාපයේ බහුලව දක්නට ලැබෙන පස් කාණ්ඩය කුමක් ද?

(b) මෙම භූමියෙන් ගත් පස් නියැදියක් යන්තම් තෙත් කර අත්ල මත තබා ගුලියක් සකසා එම ගුලිය රෝල් කිරීමට ගත් උත්සාහයේ දී කැඩී ගියේ ය. මෙම පසේ වයනය කුමක් විය හැකි ද?

(v) (a) මෙම භූමියෙහි කොටසක වැවී ඇති ගිනි තෘණ හා මානා මර්දනය කිරීම සඳහා යොදාගත හැකි **රසායනික නොවන** වල් පැළ පාලන ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.

(b) මෙම තෘණවලින් ගත හැකි ප්‍රයෝජන **දෙකක්** සඳහන් කරන්න.

(vi) (a) කොළ පොහොර සඳහා පත්‍ර ලබා ගත හැකි, ගොවිපොළේ වැටට සිටුවීමට සුදුසු ශාක වර්ග **දෙකක්** නම් කරන්න.

(b) මෙම ගොවිපොළෙහි මිරිස් වගාවක මේරූ පත්‍ර කහ පැහැ වී ශාක වර්ධනය බාල වී ඇති බව දක්නට ලැබුණි. මෙය කුමන පෝෂක ඌනතාවක් විය හැකි ද?

(vii) මෙම ගොවිපොළෙහි සිව්බෝග මාරුව යටතේ වගා කිරීමට සුදුසු බෝග කාණ්ඩ **හතර** සඳහන් කරන්න.

(viii) (a) මෙම ගොවිපොළෙහි ඇති කිරීමට සුදුසු ඉන්දීය කිරි ගව වර්ග **දෙකක්** නම් කරන්න.

(b) ගවයින් ඇති කිරීමේ ප්‍රධාන ක්‍රම අතරින්, සමෝධානිත ගොවිපොළකට වඩාත් සුදුසු ක්‍රමය නම් කරන්න.

(ix) (a) මෙම ගොවිපොළ සමෝධානිත ගොවිපොළක් ලෙස සංවර්ධනය කිරීමේ දී ඊට එකතු කළ යුතු වෙනත් ඒකක **දෙකක්** ලියන්න.

(b) සමෝධානිත ගොවිපොළක් පවත්වා ගැනීමේ වාසි **දෙකක්** සඳහන් කරන්න.

(x) මෙම ගොවිපොළෙහි කිරි අස්වැන්නෙන් නිපදවිය හැකි අගය එකතු කරන ලද කිරි නිෂ්පාදන **දෙකක්** සඳහන් කරන්න.

1.

<u>වන් දමන එළවළු වර්ග</u>

(a) තක්කාලි, වම්බටු, මාළු මිරිස්, එළබටු ගෝවා, බීට්, නෝකෝල්, තිබ්බටු

(ලකුණු 1/2 x2 = 01)

<u>වන් නොදමන එළවළු වර්ග</u>

(b) වට්ටක්කා, වැටකොළු, පතෝල, කරවිල, මෑ, දඹල, බණ්ඩක්කා

[illegible], බෝංචි, [illegible], [illegible], ලබු, [illegible]

(ලකුණු 1/2 x2 = 01)

**පස ජීවානුහරණය සඳහා සුදුසු රසායනික නොවන ක්‍රම**

(ii) තවාන් පිළිස්සීම මගින්

සූර්යතාපය මගින්

උණු ජලය මගින්

(ලකුණු 1 x 2 = 02)

(iii) **කාර්යක්ෂම ජල සම්පාදන ක්‍රමය**

(ලකුණු 01)

iii. බිංදු ජල සම්පාදනය

වාසි

- කාර්යක්ෂමතාවය වැඩිය.
- අපතේ යන ජල ප්‍රමාණය අඩුය.
- ජලය සමඟ පොහොර ද යෙදිය හැකිය.
- ස්වයංක්‍රීයව ක්‍රියාත්මක කළ හැකිය.
- වල් පැළ ඇති වීම අවම වේ.
- *අපතේ යන ජල ප්‍රමාණය අඩු යි.*

(ලකුණු 1/2x1 = 1/2)

අවාසි

- මූලික වියදම වැඩිය.
- ඉහළ තාක්ෂණික දැනුමක් අවශ්‍යය
- නිතර නඩත්තු කළ යුතු ය.
- නළ අවහිර වීමට ඉඩ ඇත.
- අතුරුයත් ගෑම අපහසුය.

(ලකුණු 1/2x1 = 1/2)

**විශාල කලාපයේ බහුලව ඇති පස් කාණ්ඩය**

(iv) (a) රතු දුඹුරු පස

(ලකුණු 01)

(b) වයනය - වැලි ලෝම

(ලකුණු 01)

**රසායනික නොවන වල් පැළ පාලන ක්‍රම**

(v) (a) මුල් සමඟ ගලවා ඉවත් කිරීම *උදලු ගෑම*

භූමිය පිළිස්සීම (ගිනි තැබීම)

*කයිට් කොටස් කපා දැමීම*

(ලකුණු 1/2x2 = 1)

**තෘණ වලින් ඇති ප්‍රයෝජන**

(b)

- ගව ආහාරයක් ලෙස
- කොම්පෝස්ට් නිෂ්පාදන අමුද්‍රව්‍යයක් ලෙස
- වසුන් ද්‍රව්‍යයක් ලෙස
- *සයිලේජ් සෑදීම.*

(ලකුණු 1/2 x 2 = 01)

(vi)
වැවට සුදුසු ශාක වර්ග

(a) ග්ලිරිසිඩියා, ඉපිල් ඉපිල්, වල්සූරියකාන්ත , ඩර්බ3 ,  (ලකුණු 1/2 x 2 = 01)

(b) නයිට්‍රජන් ඌනතාව  (ලකුණු 01)

සිව් බෝග මාරුවට සුදුසු බෝග වර්ග

(vii) ධාන්‍ය බෝග, රනිල බෝග, අල බෝග, එළවළු බෝග

(ලකුණු 1/2 x 4 = 02)

ඉන්දීය කිරි ගව වර්ග

(viii) (a) සින්දි, සහිවාල්  (ලකුණු 1/2 x 2 = 01)

(b) සුක්ෂම ක්‍රමය (සියුම් ක්‍රමය)

(ලකුණු 01)

සමෝධානිත ගොවිපළකට එකතු කළ යුතු වෙනත් ඒකක

x. (a)

- ජීව වායු ඒකකයක්
- කොම්පෝස්ට් නිෂ්පාදන ඒකකයක්
- කුකුළු පාලන ඒකකයක්
- තෘණ වගා ඒකකයක්
- මිරිදිය මත්ස්‍ය ඒකකයක්
- තාරාවන් ඇති කිරීමේ ඒකකයක්
- කෝත්ත පාලන ඒකකයක්  (ලකුණු 1/2 x 2 = 01)

(b) සමෝධානිත ගොවිපළක වාසි

- සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ලැබේ
- වසර පුරා ආදායම් ලැබේ  - ගොවීන්ට අමතර ආහාර ලැබේ
- අවදානම හා අඩමානය අඩුය  - ශ්‍රමය ප්‍රශස්තකරණය වීම
- පරිසර දූෂණය අඩු ය
- පාංශු ගුණාංග දියුණු වේ.
- සමතුලිත ආහාර වේලක් ලැබීම  (ලකුණු 1/2 x 2 = 01)

අගය එකතු කරන ලද නිෂ්පාදන

x. යෝගට්/ මුදවාපු කිරි/ කිරිටොෆි/ ගිතෙල්/ බටර්/ චීස්
රසකැවිලි , අයිස්ක්‍රීම්

(ලකුණු 1 x 2 = 02)

මුළු ලකුණු 20 යි

**2.**

(i) (a) මෙම රූප සටහනෙන් දැක්වෙන උපකරණය කුමක් ද?
(b) එහි A, B, C හා D යන කොටස් නම් කරන්න.

(ii) වඩාත් නිවැරදිව පාඨාංක ලබා ගැනීම සඳහා මෙම උපකරණය ස්ථානගත කිරීමේ දී සැලකිය යුතු කරුණු තුනක් ලියන්න.

(iii) (a) පාංශු වාතයේ වැදගත්කම් දෙකක් ලියන්න.
(b) පසෙහි සාරවත් බව වැඩි වීම හේතුවෙන් පාංශු ජීවීන්ගෙන් සිදුවන බලපෑම් දෙකක් සඳහන් කරන්න.

i (a) සරල වර්ෂාමානය

(ලකුණු 1 x 1 = 01)

(b)

A – පුනීලය
B – බාහිර සිලින්ඩරය / ආරක්ෂිත වැස්ම
C – මිනුම් සරාව
D – අභ්‍යන්තර සිලින්ඩරය
[illegible]

(ලකුණු 1/2 x 4 = 2)

ii <u>වර්ෂාමානයක් ස්ථානගත කිරීමේදී සැලකිය යුතු කරුණු</u>

- එළිමහන් ස්ථානයක සවි කළ යුතු ය
- ආසන්නයේ ගොඩනැගිලි හෝ උස් ගස් ඇත්නම් ඒවායේ උස මෙන් දෙගුණයක දුරින් හෝ ඊට වඩා වැඩි දුරකින් ස්ථානගත කිරීම
- පුනීල කට පොළව මට්ටමේ සිට සෙ.මී 30 උසින් සිටින සේ තැබීම
- සුළඟ නිසා පෙරළීම හා සතුන්ගෙන් හානි වීම වැළකෙන පරිදි පිහිටුවීම
- ස්ථානගත කරන භූමියේ තණකොළ වවා ඒවා කපා භූමිය නඩත්තු කිරීම
- ආරක්ෂිත වටක් ඉදි කිරීම

(ලකුණු 1 x 3 = 03)

(iii) (a) <u>පාංශු වාතයේ වැදගත් කම්</u>

- ශාක මූල මණ්ඩලවල ශ්වසනයට අවශ්‍ය වේ.
- බීජ ප්‍රරෝහණයට අවශ්‍ය වේ.
- පාංශු ජීවී ශ්වසනයට අවශ්‍ය වේ.
- කාබනික ද්‍රව්‍ය ජීර්ණයට (වියෝජනයට) අවශ්‍ය වේ.
- පාෂාණ ජීර්ණයට උපකාර වේ.

(b) <u>පාංශු ජීවීන්ගෙන් සිදුවන බලපෑම්</u>

- ක්ෂුද්‍ර ජීවීන් මගින් කාබනික ද්‍රව්‍ය වියෝජනය කරයි
- පස මිශ්‍ර කරයි. (වෙයන්, ගැඩවිලුන්)
- ඇලෙන සුලු ද්‍රව්‍ය පිටවීම නිසා පස් කැටිති ඇති වීම පහසු කරයි.
- පසේ N තිර කරයි (Rhizobium SP)
- ගැඩවිලුන් පස සියුම් කොටස්වලට අඹරයි.

(ලකුණු 01x 02=02)

**මුළු ලකුණු 10 යි**

3. වර්තමානයේ ඇතැම් ගොවීන් කාබනික බෝග වගාව කෙරෙහි නැඹුරුතාවක් දක්වන අතර කාබනික පොහොර පමණක් යොදා වගා කළ බෝග අස්වනු සඳහා ඉහළ මිලක් ද ලබා ගත හැකි ය.
   (i) (a) කාබනික පොහොර භාවිතයේ ප්‍රායෝගික ගැටලු දෙකක් සඳහන් කරන්න.
       (b) කොම්පෝස්ට් සැකසීමේ දී අමුද්‍රව්‍ය ජීර්ණය වේගවත් කිරීමට ගත හැකි උපාය මාර්ග දෙකක් ලියන්න.
   (ii) පසට රසායනික පොහොර යෙදීමෙන් ඇතිවන අහිතකර බලපෑම් තුනක් ලියන්න.
   (iii) (a) අමිශ්‍ර (සෘජු) පොහොර
       (b) පූර්ණ පොහොර මිශ්‍රණ
       (c) අර්ධ පොහොර මිශ්‍රණ
   කෙටියෙන් පැහැදිලි කරන්න.

03.

(i) (a) කාබනික පොහොර භාවිතයේ ප්‍රායෝගික ගැටළු

- විශාල ප්‍රමාණවලින් යෙදිය යුතුය.
- සකසා ගැනීමට ශ්‍රමය අවශ්‍ය වේ.
- කම්කරු වියදම වැඩිය.
- ගබඩා ඉඩ අවශ්‍යතාවය වැඩිය.
- ප්‍රවාහනය අපහසුය.
- ශාකවලට උරා ගැනීමට කල් ගත වේ.
- අමුද්‍රව්‍ය සපයා ගැනීම අපහසුය.
- සකසා ගැනීමට වැඩි කාලයක් ගත වේ.
- නිසි ලෙස සකසා නැති විට වල් [illegible] හා රෝග බෝ වීම

(ලකුණු 01x 02=02)

(b) අමු ද්‍රව්‍ය ජීර්ණය වේගවත් කිරීමට ගත හැකි උපාය මාර්ග

- නිතර මිශ්‍ර කිරීම
- වාතනය දියුණු කිරීම
- තෙතමනය පවත්වා ගැනීම
- අමු ද්‍රව්‍ය කුඩාවට කැපීම
- සත්ව පොහොර මිශ්‍ර කිරීම
- ශූරියා දියකර ඉසීම
- පැරණි කොම්පෝස්ට් පොහොර එකතු කිරීම ([illegible])
- [illegible]

(ලකුණු 01x 02=02)

(ii) <u>පසට රසායනික පොහොර යෙදීමෙන් ඇතිවන අහිතකර බලපෑම</u>

- පාංශු ව්‍යුහය පිරිහේ.
- පස ආම්ලික වේ. (pH අගය හොඳ වේ)
- පාංශු ජීවීන් විනාශ වේ.
- අහිතකර මුල ද්‍රව්‍ය පසට එකතු වේ.
- පාංශු ජල ප්‍රභව දූෂණය වේ.
- වැඩිපුර යෙදීමෙන් වගාවන් විනාශ වේ.
- 

(ලකුණු 01x 03=03)

(iii) (a) <u>අමිශ්‍ර (සෘජු) පොහොර</u> - එක් ප්‍රධාන ශාක පෝෂකයක් පමණක් අඩංගු පොහොර වේ.
(එක් ප්‍රධාන පෝෂකයක්)

උදා : N - යූරියා

K - MOP (මියුරේට් ඔෆ් පොටෑෂ්)

P - TSP (ත්‍රිත්ව සුපර් පොස්පේට්)

(ලකුණු 01)

(b) <u>පූර්ණ පොහොර මිශ්‍රණ</u> - N,P,K යන ප්‍රධාන පෝෂක තුනම අඩංගු පොහොර වේ.

උදා : පොල් පොහොර
එළවළු පෙහොර

(ලකුණු 01)

(C) <u>අර්ධ පොහොර මිශ්‍රණ</u> - N,P,K යන ප්‍රධාන පෝෂක තුනෙන් 02 ක් පමණ අඩංගු පොහොර වේ

උදා : TDM (වී වගාවේ බණ්ඩි පොහොර)

(ලකුණු 01)

| මුළු ලකුණු 10 යි |
|---|

4. මිරිස් වගාවක හැනින් හැන පැළ කිහිපයක් මැළ වී පසුව මිය ගොස් තිබුණි. එම ශාකවල කඳ අභ්‍යන්තරයෙහි පටක දුර්වර්ණ වී තිබුණු අතර, කඳ කපා ජල භාජනයකට දැමූ විට කිරි වැනි උකු දියරයක් වෑස්සෙනු දක්නට ලැබිණි.

(i) (a) මෙම රෝගය හා රෝග කාරකය නම් කරන්න.

(b) මෙම රෝගය පාලනය කිරීම සඳහා යොදාගත හැකි ක්‍රම තුනක් යෝජනා කරන්න.

(ii)



පූළුන් කැබැල්ල

ඵල දරන අඹ වගාවක අතුවල ඉහත රූපයේ දැක්වෙන ආකාරයේ ඇටවුම් කිහිපයක් එල්ලා තිබුණි.

(a) මෙම ඇටවුම් භාවිතය මගින් පාලනය කරනු ලබන පළිබෝධය නම් කරන්න.

(b) මෙම ඇටවුමෙහි පළිබෝධ ආකර්ෂණය කිරීම සඳහා යොදාගනු ලබන රසායනික ද්‍රව්‍ය කුමක් ද?

(iii) බෝගවලට වැළඳෙන වෛරස් රෝගවල පොදු ලක්ෂණ තුනක් සඳහන් කරන්න.

04.

(i) (a)

- රෝගය - හිටුමැරීම

රෝගය ඇරදීමට රෝග කාරකයට ලකුණ දෙන්න.

(ලකුණු 01)

- රෝග කාරකය - බැක්ටීරියා (සුඩොමොනාස් සොලනේසියාරුම්)

(විද්‍යාත්මක නාම අවශ්‍ය නැත)

(ලකුණු 01)

(b) රෝග පාලනය කිරීම සඳහා යොදාගත හැකි ක්‍රම

- රෝගී ශාක උදුරා දැමීම
- බෝග මාරුව
- පස ජීවානුහරණය කිරීම
- ප්‍රතිරෝධී ප්‍රභේද භාවිතය
- පසේ ජල වහනය දියුණු කිරීම
- රෝගී ශාක තිබූ ස්ථානවල පස් වගා බිමෙන් ඉවත් කිරීම
- සොලනේසියේ කුළයේ බෝග එකම බිමේ දිගින් දිගට වගා නොකිරීම
- නියමිත රෝගකාරකයට ඇතුළු වීම.

(ලකුණු 01x 03=03)

(ii) (a)

- පළතුරු මැස්සා

(ලකුණු 01)

පළිබෝධ ආකර්ෂණය සඳහා යොදන රසායනික ද්‍රව්‍ය

- මීතයිල් ඉයුජිනෝල්

(ලකුණු 01)

ii) <u>වෛරස් රෝගවල පොදු ලක්ෂණ</u>

- කොළ කොඩ වීම
- ශාක කුරු වීම
- පත්‍ර නාරටි බෙරීම
- පුෂ්ප හා ඵල විකෘති වීම
- පත්‍ර විචිත්‍ර වීම
- පත්‍ර සෙච්චන්දියක් ඇති වීම
- පත්‍ර කහ පාට වීම
- පත්‍ර රැළි ගැසීම
- පත්‍ර රෝල් වීම
- අළුත් පත්‍ර කහවන් කොළ පැහැයක් ගැනීම
- ශාකයේ වර්ධනය බාල වීම
- වැදූ හිදීම

(ලකුණු 01x 03=03)

මුළු ලකුණු 10 යි

5. ආහාර පරිභෝජනයේ විවිධ ගැටලු නිසා මානව දුෂ්පෝෂණය ඇතිවන අතර, ගුණාත්මයෙන් අඩු හා නරක් ආහාර මගින් ද මානව පෝෂණයට අහිතකර බලපෑම් ඇති වේ.

(i) (a) මානව දුෂ්පෝෂණයේ ආකාර **දෙක** සඳහන් කරන්න.

(b) එම දුෂ්පෝෂණ ආකාර දෙක ඇති වීමට හේතු වෙන් වෙන්ව කෙටියෙන් පහදන්න.

(ii) පුද්ගලයෙකුගේ ශරීර ස්කන්ධ දර්ශකය ගණනය කිරීම සඳහා වූ සමීකරණය ලියා දක්වන්න.

(iii) (a) නරක් වූ ආහාරයක් හඳුනාගත හැකි ආකාර **දෙකක්** ලියන්න.

(b) ආහාර විෂ වීමක දී පුද්ගලයෙකුට ඇතිවිය හැකි රෝග ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.

05.

(i) (a) <u>මානව දුෂ්පෝෂණයේ ආකාර දෙක</u>

- මන්දපෝෂණය
- අධිපෝෂණය

(ලකුණු 01 x 02 = 02)

පිළිතුරට පහත දැක්වෙන හේතු ඉදිරිපත් කළ යුතුයි.

(b)

- මන්දපෝෂණය - ප්‍රමාණවත් තරම් ආහාර නොලැබීම.
  ආහාරවල අඩංගු පෝෂකවල අඩුකම/ අසමතුලිත බව.

  (ලකුණු $\frac{1}{2}$ x 02=01)

- අධිපෝෂණය - ප්‍රධාන පෝෂක සහිත ආහාර අධිකව ලබා ගැනීම.
  ශාරීරික ක්‍රියාකාරකම් (ව්‍යායාම) වල අඩු කම.

  (ලකුණු $\frac{1}{2}$ x 02=01)

(ii) ශරීර ස්කන්ධ දර්ශකය (Body Mass Index) BMI $= \frac{\text{ශරීර බර (kg)}}{\text{උස}^2 \text{(m)}}$

(ලකුණු 02)

(iii) (a) <u>නරක් වූ ආහාරයක් හඳුනා ගත හැකි ආකාර</u>

- වර්ණය වෙනස් වීම
- දුර්ගන්ධය
- ස්පර්ශ කළ විට සෙවලමය (නාතුමය) ස්වභාවය
- රසය වෙනස් වීම
- මතුපිට පෘෂ්ඨයේ දිලීර (පුස්) කළු පැහැ ඇති වීම
- වයනය වෙනස් වීම

(ලකුණු 01x 02=02)

(b) <u>ආහාර විෂ වීමකදී ඇති විය හැකි ලක්ෂණ</u>

- වමනය
- පාචනය
- පපු දැවීම
- හිසරදය
- උදරයේ වේදනාව
- බඩ පිපුම
- සමේ ඇතිවන වෙනස්වීම (රතු වීම)
- උණ
- සිහිසුන් වීම
- ශ්වසන වේගය අඩු වීම/ වැඩිවීම
- ශ්වාසාපහසුතා ඇති වීම.

(ලකුණු 01x 02=02)

| මුළු ලකුණු 10 යි |
|---|

6. බීජවලින් හැර ශාකයේ වෙනත් ඕනෑම කොටසකින් නව ශාකයක් නිපදවා ගැනීම වර්ධක ප්‍රචාරණය යි.
   (i) පටක රෝපණය මගින් ශාක ප්‍රචාරණය කිරීමේ වාසි හතරක් ලියන්න.
   (ii) (a) මීදුම ප්‍රචාරකයක් තුළ දඬු කැබලි මුල් ඇදීම වේගවත් ය. එයට හේතු දෙකක් සඳහන් කරන්න.
   (b) දඬු කැබලි මුල් ඇදීම උත්තේජනය කිරීම සඳහා යොදා ගන්නා හෝර්මෝන දෙකක් නම් කරන්න.
   (iii) අඹ සඳහා පැලුම් ඊකිලි බද්ධය (කුඤ්ඤ බද්ධය) සිදු කරන ආකාරය නම් කළ රූප සටහන් මගින් පැහැදිලි කරන්න.

06.

(i) <u>පටක රෝපණයේ වාසි</u>

- පැළ අධික සංඛ්‍යාවක් ලබා ගත හැකි වීම
- නිරෝගී ශාක ලබා ගත හැකි වීම
- පැළ ගබඩා කිරීම පහසු වීම
- ප්‍රවාහනය පහසු වීම
- ඖෂධ හා සුවඳ විලවුන් සංයෝග පහසුවෙන් නිස්සාරණය කළ හැකි වීම
- මව් ශාකයට සමාන ශාක ලබා ගත හැකි වීම
- වෛරස් නොමැති ශුද්ධ නිරෝගී පැළ ලබා ගත හැකි වීම.

(ලකුණු $\frac{1}{2}$ x 04=02)

(ii) (a) <u>සූර්ය ප්‍රචාරකය තුළ මුල් ඇදීම වේගවත් වීමට හේතු</u>

සූර්ය ප්‍රචාරක තුළ

- උෂ්ණත්වය ඉහළ වීම
- සාපේක්ෂ ආර්ද්‍රතාවය ඉහළ වීම

(ලකුණු 01x 02=02)

(b) <u>මුල් ඇදීම උත්තේජනය කිරීම සඳහා යොදන හෝමෝන</u>

- IAA - ඉන්ඩෝල් ඇසිටික් ඇසිඩ (අම්ලය)
- IBA - ඉන්ඩෝල් බියුටරික් ඇසිඩ (අම්ලය)
- NAA - නැප්තැලින් ඇසිටික් ඇසිඩ (අම්ලය)

(රූටෝන්, සෙක්ටො, සෙරඩික්ස් ආදී වෙළෙඳ නාම සඳහා ද ලකුණු ලබා දෙන්න.)

ක්ලොතෙක්ස්

(ලකුණු 01x 02=02)

(iii)



බේර ගස වලින් ගහල කර ඉහළට ගෙලීම.

ඇඳීමට ලකුණු - 02

නම් කිරීමට ලකුණු - 02

(මුළු ලකුණු - 04 )

7. ශ්‍රී ලංකාවේ සත්ත්ව පාලනය සඳහා වැඩි විභවයක් පවතී.
   (i) (a) සත්ත්ව පාලනයේ වැදගත්කම් **හතරක්** ලියන්න.
   (b) ගව පාලනය සඳහා ශ්‍රී ලංකාවේ පවතින විභව **හතරක්** සඳහන් කරන්න.
   (ii) (a) සියුම් ක්‍රමයට කුකුළන් ඇති කිරීමේ වාසි **හතරක්** ලියන්න.
   (b) කුකුළන්ට වැළඳෙන රානිකට් රෝගයේ ලක්ෂණ **තුනක්** සඳහන් කර, නිරෝගී සතුනට මෙම රෝගය වැළඳීම වළක්වා ගැනීමට ගත හැකි ක්‍රියාමාර්ගයක් ලියන්න.
   (iii) ගව නිවාසයක තිබිය යුතු අවශ්‍යතා **හතරක්** සඳහන් කරන්න.

07.

(i) (a) <u>සත්ත්ව පාලනයේ වැදගත්කම්</u>

- ප්‍රෝටීන් ප්‍රභවයක් ලෙස යොදා ගත හැකි වීම
- ආදායම් උපයා ගත හැකි වීම
- රැකියා අවස්ථා ලබා ගත හැකි වීම
- සත්ව නිවාසවල අතුරණ කාබනික පොහොර ලෙස යොදා ගත හැකි වීම
- බෝග වගා කළ නොහැකි ඉඩම් සත්ව පාලනයට යොදා ගත හැකි වීම
- සත්ව අපද්‍රව්‍ය වලින් ජීව වායුව නිපදවා ගත හැකි වීම
- නිවැසියන්ගේ ශ්‍රමය ඵලදායි ලෙස යොදාගත හැකි වීම
- පවුලේ පෝෂණ මට්ටමට ඉහළ නංවා ගත හැකි වීම
- කෘෂිකාර්මික අතුරු ඵල සත්ව ආහාර ලෙස යොදා ගත හැකි වීම
- සත්ව පාලනයේ අතුරු ඵලවන ඇට, කුර, හම් ආදිය කර්මාන්ත සඳහා අමුද්‍රව්‍ය ලෙස යොදා ගත හැකි වීම
- සත්ව නිෂ්පාදන ආනයනය සඳහා වැය වන විදේශ විනිමය ඉතිරි කර ගත හැකි වීම

(ලකුණු $\frac{1}{2}$ x 04=02)

(b) <u>ගව පාලනය සඳහා ශ්‍රී ලංකාවේ පවතින විභව</u>

- දේශීය පරිසර තත්ත්වලට ඔරොත්තු දෙන සත්ව වර්ග ශ්‍රී ලංකාවේ සිටීම
- අභිජනන ක්‍රම මගින් සතුන් වැඩි දියුණු කර, නිෂ්පාදනය වැඩි කළ හැකි වීම
- සතුන්ට තෘණ සපයා ගත හැකි ඉඩම් තිබීම
- බෝග අවශේෂ සත්ව ආහාර ලෙස යොදා ගත හැකි වීම
- විවිධ කර්මාන්තවල අතුරු ඵල සත්ව ආහාර ලෙස ලබා ගත හැකි වීම
- සත්ව පාලනය සඳහා අවශ්‍ය ශ්‍රම සම්පත බහුලව තිබීම
- දීප ව්‍යාප්ත පශු වෛද්‍ය සේවය නොමිලේ ලැබීම
- පෞද්ගලික අංශයෙන් ද සත්ව පාලනයට අවශ්‍ය පහසුකම් සැපයීම
- සත්ව පාලනය පිළිබඳ උපදෙස් ලබා ගත හැකි රාජ්‍ය හා පෞද්ගලික ආයතන තිබීම
- සත්ව නිෂ්පාදන සඳහා ශ්‍රී ලංකාව තුළ හොඳ වෙළෙඳ පොළක් පැවතීම
- සත්ව පාලනය සඳහා ණය හා රක්ෂණ යෝජනා ක්‍රම පැවතීම

(ලකුණු 1/2 x 04=02)

(ලකුණු 04)

(iii)

(ii) (a) <u>සියුම් ක්‍රමයට කුකුළන් ඇති කිරීමේ වාසි</u>

- ඒකීය ඉඩ ප්‍රමාණයක වැඩි සතුන් සංඛ්‍යාවක් ඇති කළ හැකි වීම
- බෝගවලට හානි සිදු නොවීම
- විලෝපිකයන්ගෙන් සිදුවන හානි අඩුවීම
- බිත්තර සුරක්ෂිතව හා පිරිසිදුව ලබා ගත හැකි වීම
- පරපෝෂිත රෝග අඩු වීම
- බිත්තර එකතු කිරීම පහසු වීම
- ආහාර පරිවර්තන කාර්යක්ෂමතාව වැඩි වීම
- මල ද්‍රව්‍ය පොහොර ලෙස යොදා ගත හැකි වීම
- පාලනය පහසු වීම
- රෝග බෝ වීම අඩු වීම

(ලකුණු $\frac{1}{2}$ x 04=02)

(b) <u>රානිකට් රෝගයේ රෝග ලක්ෂණ</u>

- ශ්වසන අපහසුතාව
- ගිලීමට අපහසුව වීම නිසා ආහාර ආගනුව අඩුවීම
- බිත්තර නිෂ්පාදනය අඩු වීම
- සතුන් ක්ෂණිකව මිය යෑම
- ශරීර උෂ්ණත්වය ඉහළ යෑම
- සතුන් විශාල ප්‍රමාණයෙන් මිය යෑම
- කඩා හැලුණු පියාපත් සහිතව සතුන් එකට ගුලි වී සිටීම
- බිත්තර අසාමාන්‍ය හැඩයක් ගැනීම
- බිත්තරවල වර්ණය අඩු වීම
- කොළ පැහැ පාචනය

(ලකුණු $\frac{1}{2}$ x 03=01 $\frac{1}{2}$)

<u>රෝගය වළක්වා ගන්නා ක්‍රම</u>

- එන්නත් කිරීම
- රෝගී සතුන් ඉවත් කිරීම

(ලකුණු $\frac{1}{2}$)
(ලකුණු 04)

Scan with Fast Scan

(iii) <u>ගව නිවාසයක තිබිය යුතු අවශ්‍යතා</u>

- ආහාර සැපයීම සඳහා ස්ථානයක්
- අඛණ්ඩව ජලය සැපීමට හැකි ක්‍රමයක්
- පැටවි කොටුවක්
- නැම්බියන් සඳහා සුදුසු ඉඩක්
- ප්‍රසූත කොටුවක්
- ආහාර ගබඩා කරන ස්ථානයක්
- සතුන් වෙන්කරන වැටක්
- සතුන්ට සුව පහසුව වැතිරී සිටීමට ස්ථානයක්
- ගොම හා මුත්‍රා ඉවත් කිරීමට සුදුසු කානුවක්
- ආහාර වැටක්
- අහිතකර කාලගුණික තත්ත්ව වලින් ආරක්ෂා වීමට සුදුසු වහළක්
- සිමෙන්ති දමා ඇති බිමක්
- හොඳ වාතාශ්‍රයක්
- හොඳින් හිරු එළිය වැටෙන ස්ථානයක්

(ලකුණු $\frac{1}{2}$ x 04=02)

| මුළු ලකුණු 10 යි |
|---|